34509



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**44 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023 (2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023 (2024)
General Certificate of Education (Ord. Level) Examination, 2023 (2024)

නැටුම් (දේශීය) I, II
நடனம் (சுதேச) I, II
Dancing (Oriental) I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

## නැටුම් (දේශීය) I

**විශේෂ උපදෙස් :**

※ සියලු ම අයදුම්කරුවන් I කොටසේ ප්‍රශ්න 30 ට ම පිළිතුරු සැපයිය යුතු ය. එයට අමතරව II උඩරට නර්තනය, III පහතරට නර්තනය සහ IV සබරගමු නර්තනය යන කොටස් තුනෙන් එක් කොටසකට පමණක් පිළිතුරු සැපයිය යුතු ය.

※ II, III සහ IV යන කොටස්වලින් කලවමේ ප්‍රශ්න තෝරා නොගත යුතු ය. ඔබ පිළිතුරු සපයන්නේ කුමන කොටසටදැයි පිළිතුරු පත්‍රයේ පැහැදිලිව ලියා දැක්විය යුතු ය.

**සැලකිය යුතුයි:**

(i) සියලු ම ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
(ii) අංක 1 සිට 40 තෙක් ප්‍රශ්නවල දී ඇති (1), (2), (3), (4) වරණ අතරින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ පිළිතුර තෝරා ගන්න.
(iii) ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.
(iv) එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා ඒවා ද පිළිපදින්න.

### I කොටස

● අංක 1 සිට 10 තෙක් ප්‍රශ්නවල හිස්තැන්වලට සුදුසු වචන තෝරන්න.

1. ත්‍රිවිධ ලයට සරඹ අභ්‍යාස කිරීමේ දී දෙගුණ ලෙස නම් කරනුයේ .............................. ලය වේ.
   (1) විලම්භ (2) මධ්‍ය (3) ධෘත (4) අතිධෘත

2. අතීතයේ රාජ්‍ය විරෝධී ක්‍රියා සඳහා මරණ දඬුවම් පැමිණ වීම .............................. වාදනය මගින් සන්නිවේදනය කර ඇත.
   (1) අණ බෙර (2) මළ බෙර (3) වද බෙර (4) රණ බෙර

3. කෝලම් නාටකයේ එන .............................. කෝලම පූර්ව රංගයක් ලෙස කරළියට පැමිණේ.
   (1) නාරිලතා (2) නාග රාක්ෂ (3) සඳකිඳුරු (4) ජස

4. කරදිය මුද්‍රා නාටකයේ 'සිසී' ගේ චරිතය නිරූපණය කරන ලද්දේ .............................. ශිල්පිනිය විසිනි.
   (1) ටානියා බැරකෝමා (2) අංජලිකා චිත්‍රසේන
   (3) වජිරා චිත්‍රසේන (4) උපේඛා චිත්‍රසේන

5. සොකරි නාටකයේ ආඬිගුරු, ඉන්දියාවේ .............................. ප්‍රදේශයේ සිට පැමිණි තැනැත්තෙකු ලෙස සැලකේ.
   (1) තඹරාවිට (2) මධුරාපුර (3) ආන්ද්‍රා (4) කේරළ

6. පුද්ගලයෙකුගේ සිතෙහි හට ගන්නා හැඟීම් සමුදාය .............................. ලෙස හැඳින්වේ.
   (1) ස්ථායිභාව (2) රසභාව (3) මනෝභාව (4) වින්දනය

7. දේශීය බෙර වාදන ක්ෂේත්‍රයට පොදු වූ මූලික ධ්වනි .............................. ලෙස හැඳින්වේ.
   (1) ස්වරාක්ෂර (2) දෘඩාක්ෂර (3) ගර්භාක්ෂර (4) බීජාක්ෂර

[දෙවැනි පිටුව බලන්න.

8. කෝලම් රඟමඩලෙහි ගොරකා අතු, පුවක් අතු සහ බුරුල්ල අතු භාවිතයෙන් සාදා ගන්නා ප්‍රධාන සැරසිල්ල .................... නම් වේ.
(1) තානායම් පොළ (2) වෙස් අත්ත (3) රඟමඩල (4) කරළිය

9. මනිපුරි නර්තන අංගයක්වන .................... ජන ජීවිතයේ උත්සව අවස්ථාවල දී පැවැත්වෙන බව කියැවේ.
(1) රාස්ලීලා (2) පරෙංග් (3) සංකීර්තන (4) පුංචොලම්

10. ශාන්ති දේව්ඝෝෂ් විසින් ශ්‍රී ලංකාවේ දී නිර්මාණය කරන ලද මුද්‍රා නාට්‍යයන්හි ප්‍රධාන නළුවා ලෙස .................... ශිල්පියා රඟපාන ලදී.
(1) නිමල් වෙල්ගම (2) ඩබ්ලිව්. බී. මකුලොලුව
(3) ශේෂා පලිහක්කාර (4) එස්. පණිභාරත

11. කථකලි නර්තනය සඳහා උදය ශංබර් හා රාම්ගෝපාල් සුවිශේෂ වන්නේ,
(1) නව ආයතනයක් නිර්මාණය කිරීමෙනි.
(2) දේශීය මුද්‍රා නාට්‍ය කලාවේ ප්‍රවීණ ශිල්පීන් වීමෙනි.
(3) ගැමි නැටුම් ආභාසයෙන් නර්තන නිර්මාණකරණයෙනි.
(4) වර්තමාන වේදිකාවට ගැළපෙන ලෙස නව නර්තන නිර්මාණකරණයෙනි.

12. කොහොඹා කංකාරි ශාන්තිකර්මයේ දී සිදුකරනු ලබන චාරිත්‍ර දෙකකි,
(1) මඩු පේ කිරීම හා තෙල්මල් වැඩීම. (2) මඩු පේ කිරීම හා රුප්පායකුන් පිදීම.
(3) හඟල යැදීම හා බිසෝ කප සිටුවීම. (4) මඩු පේ කිරීම හා මිල්ල කැපීම.

13. පහන් මඩුව ශාන්තිකර්මයේ නර්තනාංග දෙකකි,
(1) කොලොන්න පද හා මුගුරු පද. (2) යක් ඇනුම හා දෙවොල්.
(3) මල්මඩුපුරය හා ආවැන්දුම. (4) තෙල්මේ හා යක්තුන් පදය.

14. දෙවොල් මඩුව ශාන්තිකර්මයේ නාට්‍යමය අවස්ථා වන්නේ,
(1) රාමා මැරීම හා ගුරුගේ මාලාව ය. (2) අඹ විදමන හා ගබඩාකොල්ලය ය.
(3) ඇත් බන්ධනය හා දෙවොල් ගොඩබැසීම ය. (4) අඹ විදමන හා පොත්කඩේ පාලිය ය.

- අංක 15 සිට 18 දක්වා ප්‍රශ්නවලට පහත ඡායාරූප ඇසුරින් පිළිතුරු සපයන්න.


P


Q


R


S

15. භාරතයේ ශාන්ති නිකේතනයේ නිර්මාතෘවරයා දැක්වෙන ඡායාරූපය වන්නේ,
(1) P ය. (2) Q ය. (3) R ය. (4) S ය.

16. නල දමයන්ති හා දිව්‍යමංගලිකා යන මුද්‍රා නාටක නිර්මාණය කරන ලද ශිල්පීන් දැක්වෙන ඡායාරූප වන්නේ,
(1) P හා Q ය. (2) P හා R ය. (3) P හා S ය. (4) Q හා S ය.

17. කරදිය මුද්‍රා නාට්‍යය සඳහා දායක වූ ශිල්පීන් දෙදෙනාගේ ඡායාරූප වන්නේ,
(1) P හා Q ය. (2) P හා R ය. (3) Q හා S ය. (4) R හා S ය.

18. ගොයම් කැපීමේ ගැමි නැටුම වේදිකාවට ගෙන ඒමේ ගෞරවය හිමිවන ශිල්පියා දැක්වෙන ඡායාරූපය වන්නේ,
(1) P ය. (2) Q ය. (3) R ය. (4) S ය.

[තුන්වැනි පිටුව බලන්න.

19. "පානා අසිරි නොහැර පානා දෙනෙත් කුසුම" ................ මෙම ප්‍රශස්තිය ගායනා කරනු ලබන්නේ,
(1) මැදුම් මහ දෙතිතට ය.
(2) සුළු මැදුම් දෙතිතට ය.
(3) සුළු මහ දෙතිතට ය.
(4) මහ තනි තිතට ය.

- අංක **20** සිට **23** තෙක් ප්‍රශ්න සඳහා පිළිතුරු පහත වගුව ඇසුරෙන් තෝරන්න.

| | A | B |
|---|---|---|
| 1 | නන් උතුම් පෙම්බර ගුණ ... | මේරුං විරාජිත සමං ... |
| 2 | ඉන්ද්‍ර දිශාවට ඉඹුල් විමානෙට ... | චන්දනම යස තේජ කුංකුම ... |
| 3 | හෙමින් හෙමින් මම හේනට ... | යුද්දෙටත් ඇවිත් ... |
| 4 | ජය ජය සිංහ නරේන්ද්‍ර ... | ත්‍රිවිධ ඤාණ විදුරු ... |

20. අනාසාතාත්මකව ගැයෙන ගායනා දෙකක් දැක්වෙන වරණය කුමක් ද?
(1) A1 හා A2 (2) A2 හා A4 (3) A2 හා B1 (4) A3 හා B1

21. රබන් නර්තනය සඳහා ගැයෙන ගායනා දෙක මොනවා ද?
(1) A1 හා B2 (2) A1 හා B4 (3) A2 හා B2 (4) B1 හා B2

22. රාජ සභාවල නර්තන සඳහා භාවිත කරන ගායනා දෙක වන්නේ,
(1) A1 හා B3 ය. (2) A2 හා B3 ය. (3) A4 හා B1 ය. (4) A4 හා B2 ය.

23. මැදුම් තනිතිතට අයත් ගායනා දෙක වන්නේ,
(1) A1 හා B3 ය. (2) A2 හා B3 ය. (3) A4 හා B3 ය. (4) B2 හා B4 ය.

24. කාංගුල්, උල්ලඩය සහ පබළු හැට්ටය යන රංග වස්ත්‍රාභරණ අයත්වන නර්තන ශෛලීන් පිළිවෙළින් දැක්වෙන වරණය කුමක් ද?
(1) සබරගමු, උඩරට සහ පහතරට
(2) පහතරට, උඩරට සහ සබරගමු
(3) පහතරට, සබරගමු සහ උඩරට
(4) උඩරට, සබරගමු සහ පහතරට

25. වසන්ත කුමාර මහතා විසින් නිර්මාණය කරන ලද මුද්‍රා නාට්‍ය දෙකක් වන්නේ,
(1) පටාචාරා සහ කුණ්ඩලකේශී ය.
(2) තම්බපණ්ණි සහ කුණ්ඩලකේශී ය.
(3) සැළලිහිණිය සහ සත්පත්තිනි ය.
(4) හිරෝෂිමා සහ තම්බපණ්ණි ය.

26. ප්‍රසංග වේදිකාව සඳහා නර්තනයක් රංග රචනය කිරීමේ දී අවධානය යොමු කළ යුතු ප්‍රධාන අංග වන්නේ,
(1) ශාස්ත්‍රීය බව සහ පද පහත්තියයි.
(2) දිසා, තල සහ අවකාශ භාවිතයයි.
(3) ගායනය සහ පසුතල නිර්මාණයයි.
(4) රංග වස්ත්‍ර සහ පසුබිම් සංගීතයයි.

27. "ඔන්න මලේ ඔය නාමල නෙළා වරෙන්..." මෙම කවි පදයේ ලඝු සහ ගුරු අක්ෂර සංඛ්‍යාව පිළිවෙළින්,
(1) 5 සහ 8 ය. (2) 8 සහ 5 ය. (3) 12 සහ 2 ය. (4) 12 සහ 3 ය.

28. ජුගුප්සා සහ විශ්මය යන භාව මගින් ජනිත වන රස මොනවා ද?
(1) රෞද්‍ර සහ වීර
(2) අද්භූත සහ ශාන්ත
(3) බිභත්ස සහ ශෘංගාර
(4) බිභත්ස සහ අද්භූත

29. ගණිතාලංකාර නම් බමුණු පඬිවරයා විසින් රචිත මෙම කෘතිය ඇසුරෙන් උඩරට වන්නම් රචනා කර ඇති බව කියැවේ.
(1) දහඅට වන්නම්
(2) නෘත්‍ය විනෝදය
(3) නෙර්ත මාලය
(4) නෘත්‍ය රත්නාකරය

30. මෙම රූපයෙන් දැක්වෙන කෝලම් මුහුණ පැළඳ කරනු ලබන නර්තන අංගය හඳුන්වන්නේ,
(1) අධි මානුෂ චරිතයක් ලෙස ය.
(2) මානුෂ චරිතයක් ලෙස ය.
(3) කාන්තා චරිතයක් ලෙස ය.
(4) සත්ව චරිතයක් ලෙස ය.



## II කොටස - උඩරට නර්තනය

31. වෙස් ඇඳුම් කට්ටලයේ ඉණට සහ පපු ප්‍රදේශයට පලඳින ආභරණ වන්නේ,
    (1) ඉණ පටිය සහ හැට්ටයයි.
    (2) ඉණපටිය සහ අවුල්හැරයයි.
    (3) ඉණ පටිය සහ හගලයි.
    (4) හගල සහ අවුල්හැරයයි.

32. කොහොඹා කංකාරි ශාන්තිකර්මයේ ඉදිරිපත් කෙරෙන ඒකල නර්තනයකි,
    (1) බුලත් පදය.
    (2) අස්න නැටුම.
    (3) යක් තුන් පදය.
    (4) මඩු පූරය.

33. "අතත ගණයට අයත් භාණ්ඩයක්වන මෙහි බෙර කටෙහි විෂ්කම්භය විග්ගුස්සක් වේ." මෙම පාඨයෙන් කියැවෙන්නේ කිනම් බෙරය ගැනද?
    (1) ගැට බෙරය
    (2) දෙවොල් බෙරය
    (3) දවුල
    (4) තම්මැට්ටම

34. කොහොඹා කංකාරියේ ප්‍රධාන සැරසිලි සඳහා භාවිත පාරිභාෂික යෙදුම් වන්නේ,
    (1) යහන සහ තොරණයි.
    (2) පත්තිනි තොරණ සහ අයිලයයි.
    (3) යහන සහ අයිලයයි.
    (4) දෙවොල් තොරණ සහ අයිලයයි.

35. "දොං ජිංත ගත දොංත" බෙර පදය ප්‍රස්තාරගත කිරීමට සුදුසු තාල රූපය වන්නේ,
    (1) මහ තනි තිත ය.
    (2) සුළු මහ දෙතිත ය.
    (3) සුළු මැදුම් දෙතිත ය.
    (4) මැදුම් මහ දෙතිත ය.

36. සුබ නැකතින් කිරි ගසක අත්තක් කපා ගෙනැවිත් යාතිකා කොට පවත්වනු ලබන චාරිත්‍රය හඳුන්වනු ලබන්නේ,
    (1) කප් සිටුවීම නමිනි.
    (2) බිසෝකප සිටුවීම නමිනි.
    (3) කාලපන්දම්ගස සිටුවීම නමිනි.
    (4) කිරිගස සිටුවීම නමිනි.

37. පහත සඳහන් අඩව්වෙහි හිස්තැන් සඳහා සුදුසු පද කොටස් පිළිවෙළින් ඇතුළත් වරණය තෝරන්න.
    "තාක්කු ........ තරිකිට තකුඳ ........ "
    (1) ජික්කුං, තක්කඩ
    (2) තත්, තක්කඩ
    (3) තකට, ජේම්කිට
    (4) තක්කුං, තත්ජේං

38. කොහොඹා කංකාරියේ නාට්‍යමය පෙළපාළි දෙකක් වන්නේ,
    (1) ගුරුගේ මාලාව සහ කොහොඹා හැල්ල ය.
    (2) ගුරුගේ මාලාව සහ ගබඩා කොල්ලය ය.
    (3) ඌරා යක්කම සහ දුනුමාලප්පුව ය.
    (4) ගබඩා කොල්ලය සහ යක්තුන් පදය ය.

39. මාත්‍රා පහක සංයුතියකින් සැදෙන තිත් රූපයක් භාවිත බෙර පදය කුමක්ද?
    (1) කුද කුජ්ගත
    (2) දොං ජිංත ගත දොංත
    (3) කුදංත ගත දොං
    (4) ගොග් ගොග් ජිං ජිංගත

40. දෙතිතේ තාල රූපයකට වාදනය කළ හැකි උඩරට නර්තන සම්ප්‍රදායේ බෙර පදය තෝරන්න.
    (1) කුද ගත ගත දොම්
    (2) දොංතකු දොංජිං ගත්තත් ජිංගත
    (3) ජිං ගත ගො ගො
    (4) දෝං ජිං ජිං තකට දොංතක

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**44 | S | I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023(2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023(2024)
General Certificate of Education (Ord. Level) Examination, 2023(2024)

| | |
|---|---|
| නැටුම් (දේශීය) | I, II |
| நடனம் (சுதேச) | I, II |
| Dancing (Oriental) | I, II |

## නැටුම් (දේශීය) II

* **පළමුවැනි** ප්‍රශ්නය අනිවාර්ය වේ.
* **පළමුවැනි** ප්‍රශ්නය හා තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළු ව ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.
* සෑම ප්‍රශ්නයකට ම ලකුණු 12 බැගින් හිමි වේ.

1. **සියලු ම** ප්‍රශ්නවලට සුදුසු පිළිතුරු ඔබගේ පිළිතුරු පත්‍රයේ **අදාළ ප්‍රශ්න අංකය යොදා ඉදිරියෙන් ලියන්න.**

   (i) මුල්ම සිංහල ප්‍රශස්ති කාව්‍ය ලෙස ................................ හැඳින්විය හැකි ය.

   (ii) නවග්‍රහයින්ගෙන් සිදුවන අපල උපද්‍රව සඳහා ................................ ශාන්තිකර්ම සිදු කර ඇත.

   (iii) පංච තූර්ය වාදනය සඳහා යොදාගන්නා, ................................ විතතාතත භාණ්ඩයක් ලෙස වර්ගීකරණය කෙරේ.

   (iv) "ප්‍රේමතෝ ජායතී සෝකෝ" ගීත නාටකය ................................ ගේ නිර්මාණයකි.

   (v) බලි ශාන්තිකර්මයේ දී වමතට ................................ක් ගෙන තාලය වයමින් නර්තනයක යෙදේ.

   (vi) ශාන්තිකර්මයන්හි භාවිත නාට්‍යමය ලක්ෂණ ඇතුළත් අංගවල දී ................................ අභිනයට අයත් සංවාද හාස්‍ය රසයෙන් යුක්ත වේ.

   (vii) කථකලි නර්තනයේ භාවිත අවනද්ධ භාණ්ඩයක් වන ................................, උඩැක්කියේ ආකෘතියට සමාන වේ.

   (viii) පානදුරේවාහැට සහ කලුන්දෑව යන ප්‍රදේශවල ................................ ගැමි නාටකය ප්‍රචලිතව පවතී.

   (ix) ශාන්තිකර්මවල දී පහත දැක්වෙන කාර්ය සිදුකරනු ලබන නාට්‍යමය අවස්ථා නම් කරන්න.

      (අ) උපරෙකු මරා කොටස් කර බෙදා දීම : ................................

      (ආ) පත්තිනි උපත් කතාව විස්තර කිරීම : ................................

   (x) පහත දැක්වෙන සිදුවීම්වලට අදාළ වර්ෂ සඳහන් කරන්න.

      (අ) පාසල් විෂය නිර්දේශයට සෞන්දර්ය අධ්‍යාපනය අනිවාර්යය වීම : ................................

      (ආ) සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය ආරම්භ කිරීම : ................................

2. (i) මාත්‍රා 2+4 තාල රූපයට අයත් බෙර පදයක් ප්‍රස්තාරගත කරන්න.

   (ii) "සොබමන් දෙවිවරු සදෙනෙක් එතැනට
   බසිමින් චාමර ගත්තේ සුරතට ......" යන කවි පාද, මහ තනි තිතට අවග්‍රහයෙන් ප්‍රස්තාරගත කරන්න.

   (iii) තුරඟා වන්නමේ **අඩව්ව** හෝ භාවාදි තාලය සින්දු වන්නමේ **ඉරට්ටිය** හෝ කුදිරඩි වන්නමේ **අඩව්ව** හෝ ප්‍රස්තාරගත කරන්න.

3. පහත සඳහන් මාතෘකා අතුරෙන් **තුනක්** කෙටියෙන් විස්තර කරන්න.

   (i) රංග භාණ්ඩ

   (ii) මානසික ස්වස්ථතාව

   (iii) කරදිය මුද්‍රානාට්‍ය

   (iv) නර්තන විෂය හා බැඳි සාරධර්ම

   (v) ආචාර්ය අභිනය

[අටවැනි පිටුව බලන්න.

**4.** දේශීය ශාන්තිකර්මයන්හි එකිනෙකට වෙනස් වූ නර්තනාංග මෙන්ම විවිධතා සහිත රංග වස්ත්‍රාභරණ සහ සැරසිලි ඇත.

(i) දෙවොල් මඩුව ශාන්තිකර්මයේ දෙවොල් ඇඳුම් කට්ටලය චිත්‍රණය කර එහි කොටස් **තුනක්** නම් කරන්න.

(ii) කොහොඹා කංකාරිය ශාන්තිකර්මයේ ගායනය සහිත නර්තනාංග **දෙකක්** සඳහන් කර ඉන් **එකක්** පිළිබඳව කෙටි හැඳින්වීමක් කරන්න.

(iii) පහන් මඩුව ශාන්තිකර්මයට අදාළ සැරසිලි **දෙකක්** නම් කර ඉන් **එකක්** තෝරාගෙන එහි විචිත්‍රත්වය අගයන්න.

**5.** (i) සොකරි සහ කෝලම් නාටක සඳහා යොදාගන්නා වාද්‍ය භාණ්ඩ **දෙක** බැගින් නම් කරන්න.

(ii) සොකරි නාටකයේ එන චරිත **දෙකක්** නම් කොට එක් චරිතයක් නිරූපණය සඳහා නර්තනය සහ ගායනය යොදාගෙන ඇති ආකාරය විස්තර කරන්න.

(iii) ජස ලෙංචිනා කෝලමෙන් සමාජ ශෝධනය සිදුවන අයුරු විචාරයට ලක්කරන්න.

**6.** පහත දැක්වෙන A, B සහ C රූප ආශ්‍රයෙන් අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.



A



B



C

(i) A රූපයේ දැක්වෙන නර්තන සම්ප්‍රදායට අයත් රංග වස්ත්‍රාභරණ **දෙකක්** නම් කොට විස්තර කරන්න.

(ii) B රූපයේ දැක්වෙන නර්තන සම්ප්‍රදායට යොදා ගන්නා වාද්‍ය භාණ්ඩ **දෙකක** විශේෂතා පෙන්වා දෙන්න.

(iii) C රූපයේ දැක්වෙන ප්‍රසංග අංගය ඇසුරු කොටගෙන අද්‍යතන නර්තන පිළිබඳව පහත කරුණු ඔස්සේ විචාරයට ලක් කරන්න.

(අ) රංග වස්ත්‍රාභරණ

(ආ) තාක්ෂණික මෙවලම්

**7.** නර්තනය හා බැඳි ක්‍රියාකාරකම්හි නිරතවීමෙන් සහජීවනය හා මානව සබඳතා මනාව ගොඩනැගේ.

(i) කණ්ඩායම් නර්තනයක් ඇසුරෙන් වර්ධනයවන ගුණාංග **හතරක්** ලියා දක්වන්න.

(ii) පාසල සහ ප්‍රජාව අතර සම්බන්ධතාව ගොඩනැගෙන, නර්තනය හා සම්බන්ධ ව්‍යාපෘති **දෙකක්** නම් කර හඳුන්වන්න.

(iii) වේදිකා ප්‍රසංග අංගයක් නිර්මාණය කිරීමේදී සංවර්ධනය විය හැකි කුසලතා **හතරක්** පැහැදිලි කරන්න.

* * *